# තොරතුරු හා සන්නිවේදන තාක්ෂණය

## වැඩ පොත

## 6 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා   ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති   අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ   අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ   අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දම්නී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

## පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමගින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරුපරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රිය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළපොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමඟම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

**නියාමනය හා අධීක්ෂණය**

පී. එන්. අයිලප්පෙරුම - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම**

ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය**

එච්. ඒ. අයි. පී. උපතිස්ස - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සංස්කාරක මණ්ඩලය**

ආචාර්ය ප්‍රසාද් විමලරත්න - අංශාධිපති,
සන්නිවේදන හා මාධ්‍ය තාක්ෂණ අධ්‍යනාංශය
කොළඹ විශ්වවිද්‍යාලයීය පරිගණක අධ්‍යයනායතනය

ආචාර්ය වී. ජී. එන්. විදානගම - ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,
වයඹ විශ්වවිද්‍යාලය

ආචාර්ය සේනක අමරකීර්ති - ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,
ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය

ඩබ්. ඩබ්. එම්. ඩී. සී. බී. පියසිරි - උපදේශක,
කාර්මික විද්‍යාලය, හසලක

එච්. ඒ. අයි. පී. උපතිස්ස - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

ඊ. එන්. බොරළුගොඩ - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

එස්. ෂන්මුගලිංගම් - ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,
ජාතික අධ්‍යාපන ආයතනය

**ලේඛක මණ්ඩලය**

එස්. එන්. ඕ. රොද්‍රිගෝ - ගුරු සේවය
හලා/මැදගම අභය මහා විද්‍යාලය
පනිරෙන්ඩාව

ආර්. එම්. එස්. කේ. රණතුංග - ගුරු සේවය
හූරිකඩුව බාලිකා විද්‍යාලය
මැණික්හින්න

සංජීවනි දළුවත්ත - ගුරු සේවය
බප/ජය/ජනාධිපති විද්‍යාලය
මහරගම

එස්. එම්. ඩී. ටී. සිංහබාහු - ගුරු සේවය
හලා/ශාන්ත සෙබස්තියන් මධ්‍ය විද්‍යාලය
කටුනේරිය

ඊ. එම්. කුසුම් උදයකාන්ති - ගුරු සේවය
බප/කැල/ ශ්‍රී ධර්මාලෝක මහා විද්‍යාලය
වරාගොඩ පාර, කැලණිය

එල්. ජී. අයි. ප්‍රියදර්ශනී - ගුරු සේවය
විද්‍යාර්ථ විද්‍යාලය
මහනුවර

එච්. ඒ. අයි. පී. උපතිස්ස - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

එන්. වගීසමූර්ති - අධ්‍යාපන අධ්‍යක්ෂ
(විශ්‍රාමික)

ටී. මතිවාදනන් - ගුරු උපදේශක
කලාප අධ්‍යාපන කාර්යාලය
පිළියන්දල

ඒ. එම්. වසීර් - මධ්‍යස්ථාන කළමනාකරු
කලාපීය පරිගණක සම්පත් මධ්‍යස්ථානය,
කහගොල්ල

එම්. එෆ්. එම්. ජර්ජුන් - සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ
අධ්‍යාපන අමාත්‍යාංශය

**භාෂා සංස්කරණය**

ජේ. ඩබ්. රුමේෂ් ජයලත් - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**පිටකවර නිර්මාණය**

ඩී. මහේන්ද්‍ර සොයිසා - පරිගණක සහයක,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**පරිගණක අක්ෂර සංයෝජනය**

චමින්ද හපුආරච්චි - පරිගණක සහයක,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

ඩබ්. ඒ. එම්. සිල්වා - පරිගණක සහයක,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# පටුන



6 - 11 ශ්‍රේණි තොරතුරු හා සන්නිවේදන තාක්ෂණය පෙළපොත්වල අන්තර්ගත කරුණු සහ සිසුන්ගේ නිර්මාණශීලිත්වය වර්ධනය පිළිබඳ යෝජනා සහ ගුණදොස් feedbackicttextbook@gmail.com යන විද්‍යුත් ලිපිනයට එවන්නේ නම් කෘතඥ වෙමු.

**සංස්කාරක මණ්ඩලය**



# 1 පරිගණකයේ වැදගත්කම

## ක්‍රියාකාරකම 1.1

01. පරිගණකයේ මූලික කාර්ය දැක්වෙන පහත ආකෘතිය සම්පූර්ණ කරන්න.

A → B → C

A - ............................

B - ............................

C - ............................

02. නිවැරදි පිළිතුර තෝරා එයට අදාළ ඉංග්‍රීසි අක්ෂරය හිස්තැනෙහි ලියන්න.

(i). පරිගණකයක ආදාන උපක්‍රමයක් ලෙස හඳුන්වන්නේ කුමක් ද?

..................................................................................................

(ii). පරිගණකයක ප්‍රතිදාන උපක්‍රමයක් ලෙස හඳුන්වන්නේ කුමක්ද?

..................................................................................................

(iii). පරිගණකයක ආචයන උපක්‍රමයක් ලෙස හඳුන්වන්නේ කුමක්ද?

..................................................................................................

A. පරිගණක පද්ධතිය මගින් සකසනු ලබන දත්ත පිටතට ලබා දීම සඳහා යොදා ගනු ලබන ඕනෑම උපක්‍රමයකි.

B. පරිගණක පද්ධතියට දත්ත ලබා දීම සිදු කරනු ලබන ඕනෑම උපක්‍රමයකි.

C. දත්ත තැන්පත් කර තැබිය හැකි පරිගණක උපක්‍රමයකි.

### ආදානය (Input)

පරිගණකයට දත්ත ඇතුළත් කිරීම ආදානය ලෙස හැඳින්වෙන අතර ඒ සඳහා භාවිත කරන උපාංග දත්ත ආදාන උපාංග හෙවත් ආදාන උපක්‍රම ලෙස හඳුන්වයි.

### සැකසීම (Process)

පරිගණකයට ඇතුළත් කළ දත්ත පරිගණකයට ඇතුළත් කර ඇති උපදෙස් අනුව විවිධ ආකාරයේ පිළියෙල කිරීම්වලට භාජනය කිරීමේ ක්‍රියාවලිය සැකසීම ලෙස හඳුන්වයි.

### ප්‍රතිදානය (Output)

සකස් කරන ලද දත්ත හෙවත් තොරතුරු පිටතට ලබා දීම ප්‍රතිදානය ලෙස හැඳින්වෙන අතර ඒ සඳහා භාවිත කරන උපාංග ප්‍රතිදාන උපාංග හෙවත් ප්‍රතිදාන උපක්‍රම ලෙස හඳුන්වයි.

## ක්‍රියාකාරකම 1.2

01. ආදාන උපක්‍රම සඳහා උදාහරණ තුනක් ලියන්න.
    - ..........................................................
    - ..........................................................
    - ..........................................................

02. ප්‍රතිදාන උපක්‍රම සඳහා උදාහරණ තුනක් ලියන්න.
    - ..........................................................
    - ..........................................................
    - ..........................................................

03. සටහනේ දැක්වෙන ආචයන උපක්‍රම හඳුනාගන්න.


A


B


C



D


E

A - ................................................ B - ................................................

C - ................................................ D - ................................................

E - ................................................

04. පහත රූප සටහනින් දැක්වෙන උපක්‍රම නම් කරන්න.




A ................................................ B ................................................

C ................................................ D ................................................

E ................................................ F ................................................

G ................................................

05. ඉහත උපකරණ සුදුසු පරිදි වර්ගීකරණය කර වගුවෙහි ලියා දක්වන්න.

| ආදාන | ප්‍රතිදාන | වෙනත් |
|---|---|---|
| | | |
| | | |
| | | |
| | | |
| | | |

06. පාසල් පරිගණක විද්‍යාගාරයක මෙම උපකරණවලට අමතරව තිබිය හැකි වෙනත් උපකරණවල ලැයිස්තුවක් පිළියෙල කරන්න.

- ................................................
- ................................................
- ................................................
- ................................................
- ................................................

07. එම උපකරණ පහත වගුවෙහි වර්ගීකරණය කර ලියන්න.

| ආදාන | ප්‍රතිදාන | වෙනත් |
|---|---|---|
| | | |
| | | |
| | | |
| | | |
| | | |

08. එදිනෙදා ජීවිතයේ කටයුතුවල දී භාවිත කරන නිහිත පරිගණක සහිත උපාංග සඳහා උදාහරණ පහක් ලියන්න.

- ........................................................
- ........................................................
- ........................................................
- ........................................................
- ........................................................

09. නිහිත පරිගණක සහිත උපාංග භාවිතයෙන් ලබාගත හැකි වාසි තුනක් සඳහන් කරන්න.

- ........................................................................................
- ........................................................................................
- ........................................................................................

## ක්‍රියාකාරකම 1.3

01. පරිගණක මෘදුකාංගයක් යනු කුමක් දැයි හඳුන්වන්න.

............................................................................................

............................................................................................

............................................................................................

02. මෘදුකාංග සඳහා උදාහරණයක් වන්නේ මේ අතරින් කුමක් ද?

A සන්දර්ශකය

B මෙහෙයුම් පද්ධතිය

C මූසිකය

D මුද්‍රණ යන්ත්‍රය

03. පරිගණක මෘදුකාංග සඳහා උදාහරණ පහක් ලියන්න.

- ..................................................................................
- ..................................................................................
- ..................................................................................
- ..................................................................................
- ..................................................................................

04. පරිගණක දෘඪාංග යනු මොනවාද?

............................................................................................

............................................................................................

05. දෘඪාංග සඳහා උදාහරණයක් වන්නේ මේ අතරින් කුමක් ද?

A සන්දර්ශකය

B මෙහෙයුම් පද්ධතිය

C වෙබ් අතරික්සුව

D දත්ත

06. පරිගණක දෘඪාංග සඳහා උදාහරණ පහක් ලියන්න.

- ..................................................................
- ..................................................................
- ..................................................................
- ..................................................................
- ..................................................................

07. එදිනෙදා කටයුතුවලට පරිගණකය යොදා ගන්නා අවස්ථා සඳහා උදාහරණ තුනක් සඳහන් කරන්න.

- ..................................................................
- ..................................................................
- ..................................................................

08. ගොවිතැන් කටුයතු සඳහා ගොවිපොළ තුළ පරිගණකය යොදා ගත හැකි ආකාර දෙකක් විස්තර කරන්න.

01. ..................................................................
..................................................................
..................................................................
..................................................................
..................................................................
..................................................................

02. ..................................................................
..................................................................
..................................................................
..................................................................
..................................................................
..................................................................

## ක්‍රියාකාරකම 1.4

ගුරුතුමාගේ හෝ ගුරුතුමියගේ සහාය ඇතිව මෙම ක්‍රියාකාරකම් සංවිධානය කළ යුතුය.

01. ඔබගේ පන්තියේ සිසුන් කොටස් තුනකට බෙදන්න. පහත දැක්වෙන ආකාරයේ කාඩ්පත් තුනක් සකසා ගන්න. එක් කණ්ඩායමකට එක බැගින් වන සේ අහඹු ලෙස ඒවා බෙදා ගන්න.







ඔබට ලැබුණු කාඩ්පතෙහි ඇති පරිගණක වර්ගයට අදාළ ආදාන උපක්‍රම හා ප්‍රතිදාන උපක්‍රම වෙන වෙන ම ලැයිස්තු ගත කරන්න. ඉන් පසුව කණ්ඩායම්වල ප්‍රතිඵල සසඳා බලා ගුරුවරයාගේ සහායෙන් නිවැරදිතාව තහවුරු කර ගන්න.

02. 'පරිගණක එදිනෙදා යොදා ගන්නා අවස්ථා' යන මාතෘකාව යටතේ පෝස්ටරයක් සකස් කරන්න.

# 2 පරිගණක විද්‍යාගාරය ආරක්ෂිතව භාවිතය

## ක්‍රියාකාරකම 2.1

01. පහත උපකරණ හඳුනාගෙන ඒවා ඔබගේ පරිගණක විද්‍යාගාරය තුළ ස්ථාපනය කර ඇත්දැයි බලන්න. (ඔබගේ පරිගණක විද්‍යාගාරය සතු උපකරණ ඉදිරියෙන් ( ✔ ) සලකුණ යොදන්න.)



..............................



..............................



..............................



..............................




..............................



..............................

මෙම උපකරණවලට අමතරව පාසල් පරිගණක විද්‍යාගාරයක ස්ථාපනය කළ යුතු වෙනත් උපකරණ වේ නම් ඒවා සඳහන් කරන්න.

- ...............................................
- ...............................................
- ...............................................
- ...............................................

02. පරිගණක විද්‍යාගාරයක් තුළ පහත එක් එක් ක්‍රියාකාරකම් සිදු කිරීම සුදුසු නම් (✔) ලකුණ ද නුසුදුසු නම් (✘) ලකුණ ද යොදන්න

1) භාවිත කළ උපකරණ නියමිත පිළිවෙළට තැබීම ( )
2) සෑම කෙවෙනියකට ම (port) තම පෑන දැමීමට තැත් කිරීම ( )
3) පුටුව කරකවමින් සෙල්ලම් කිරීම ( )
4) ගිනි නිවන උපකරණ පිළිබඳ ගුරුතුමියගෙන් විමසීම ( )
5) තම වතුර බෝතලය හා පාවහන් පිටතින් තබා ඇතුළු වීම ( )
6) බාහිර ආචයන උපාංග වෛරස් පරීක්ෂාවක් නොකර පරිගණකයට සම්බන්ධ කිරීම ( )
7) ගුරුතුමියට නොදන්වා බහුමාධ්‍ය ප්‍රක්ෂේපණ යන්ත්‍රයට විදුලි බලය සැපයීම ( )
8) යතුරු පුවරුවේ දූහුවිලි පිස දැමීම ( )

03. පරිගණක විද්‍යාගාරයේ ආරක්ෂාවට ඔබට කළ හැකි දේ ඇතුළත් ප්‍රදර්ශන පුවරුවක් සකස් කොට ඔබේ විද්‍යාගාරයේ ප්‍රදර්ශනය කරන්න. (එම පුවරුවේ දළ සැලැස්මක් ඔබේ පොතේ අඳින්න.)

## ක්‍රියාකාරකම 2.2

01. නිවැරදිව පරිගණකය ක්‍රියාත්මක කරන ආකාරය අනුපිළිවෙළින් දැක්වීමට පහත රූපවලට 1 2 3 4 අංක යොදන්න. ඒ ඒ ක්‍රියාව වචනයෙන් ලියා දක්වන්න.










☐ ☐ ☐ ☐

.......................... .............................. ............................ ............................

.......................... .............................. ............................ ............................

(ඔබ පරිගණකයක් ක්‍රියාත්මක කරන සෑම විට ම නිවැරදි පිළිවෙළ අනුගමනය කරන්න. ඒ සඳහා ඔබේ පෙළපොතෙහි ඇති උපදෙස් මෙන් ම ගුරුවරයාගේ උපදෙස් ද පිළිපදින්න.)

02. පරිගණකය ක්‍රියා විරහිත කරන ආකාරය නිවැරදි අනුපිළිවෙළට සකසන්න.

A. නිර්බාධක ජව සැපයුම(UPS) ක්‍රියා විරහිත කිරීම ..........................
B. සන්දර්ශකය ක්‍රියා විරහිත කිරීම ..........................
C. කටයුතු කරමින් සිටි වැඩසටහනින් ඉවත් වීම ..........................
D. වසා දැමීමේ (shutdown) විධානය තේරීම ..........................
E. විදුලි බලය සැපයූ ස්විච්‍ය ක්‍රියා විරහිත කිරීම ..........................

03. පරිගණකය නිවැරදි ව ක්‍රියාවිරහිත නොකිරීමෙන් පරිගණකයට සිදු වන හානි පිළිබඳ ව ඔබේ කණ්ඩායම සමග සාකච්ඡා කරන්න. ඔබ හඳුනාගත් හානි කිහිපයක් ලැයිස්තුගත කරන්න.

....................................................................................................

....................................................................................................

....................................................................................................

## ක්‍රියාකාරකම 2.3

01. පරිගණක ආචාර ධර්ම යනු මොනවාදැයි කෙටියෙන් පැහැදිලි කරන්න.

........................................................................................................

........................................................................................................

........................................................................................................

02. පරිගණක ආචාර ධර්ම සඳහා උදාහරණ තුනක් ලියන්න.

........................................................................................................

........................................................................................................

........................................................................................................

03. ඔබේ පාසලේ තොරතුරු තාක්ෂණ බිත්ති පුවත්පත සඳහා පරිගණක ආචාර ධර්ම ලැයිස්තුවක් සකස් කරන්න.
(එම ලැයිස්තුව ඔබගේ අභ්‍යාස පොතෙහි සඳහන් කරන්න.)

## ක්‍රියාකාරකම 2.4

01. පහත රූපය හොඳින් නිරීක්ෂණය කරන්න.



i. මෙම පින්තූරයේ සිටින ළමයාගේ වැරදි ඉරියව් මොනවාද ?

........................................................................................................

........................................................................................................

........................................................................................................

ii. පරිගණකය නිවැරදි ඉරියව්වලින් භාවිත නොකිරීමෙන් ඇති විය හැකි ගැටලු කිහිපයක් පහත දැක්වේ. ඒවායෙන් වැළකීමට නම් ගත යුතු ක්‍රියා මාර්ග මොනවාද?

- ඇස්වල වේදනාවක් ඇති වීම

..............................................................................................

..............................................................................................

- උරහිසේ සිට අත දිගේ වේදනාවක් ඇතිවීම

..............................................................................................

..............................................................................................

- නිතර නිතර කොන්දේ වේදනාවක් ඇති වීම

..............................................................................................

..............................................................................................

- මැණික් කටුවෙහි වේදනාවක් ඇතිවීම

..............................................................................................

..............................................................................................

- පාදවල විවිධ අපහසුතා ඇති වීම

..............................................................................................

..............................................................................................

## ක්‍රියාකාරකම 2.5

01. නිවසේ හෝ පාසලේ හෝ ඇති ඉලෙක්ට්‍රොනික් අපද්‍රව්‍ය සඳහා උදාහරණ පහක් ලියන්න.

1. ..........................................................................................
2. ..........................................................................................
3. ..........................................................................................
4. ..........................................................................................
5. ..........................................................................................

02. ඉහත හඳුනාගත් අපද්‍රව්‍ය 3R ක්‍රමය අනුව කළමනාකරණය කරගත හැකි ආකාරය ලියන්න.

..........................................................................................

..........................................................................................

..........................................................................................

..........................................................................................

..........................................................................................

..........................................................................................

..........................................................................................

..........................................................................................

..........................................................................................

## ක්‍රියාකාරකම 2.6

01. ඔබ නිවසේ දී විදුලි හෝ ඉලෙක්ට්‍රොනික අපද්‍රව්‍ය බැහැර නොකර නැවත භාවිතයට ගත් අවස්ථාවක් පන්තියේ සාකච්ඡා කරන්න. එය කෙටියෙන් ඔබේ පොතෙහි ලියා දක්වන්න.

02. ඔබේ පාසලේ ඉලෙක්ට්‍රොනික අපද්‍රව්‍ය නැවත භාවිත කළ අවස්ථාවක් ලියන්න.

..........................................................................................................

..........................................................................................................

..........................................................................................................

..........................................................................................................

..........................................................................................................

..........................................................................................................

03. ඔබ ප්‍රතිචක්‍රීකරණය සඳහා යොමු කළ ද්‍රව්‍ය කිහිපයක් නම් කරන්න.

| පාසලේ දී | නිවසේ දී |
|---|---|
| ............................................ | ............................................ |
| ............................................ | ............................................ |
| ............................................ | ............................................ |
| ............................................ | ............................................ |
| ............................................ | ............................................ |
| ............................................ | ............................................ |
| ............................................ | ............................................ |

04. ඉලෙක්ට්‍රොනික අපද්‍රව්‍ය ප්‍රතිචක්‍රීකරණය සඳහා භාණ්ඩ එක් රැස් කරන ආයතන කිහිපයක නම් ලියන්න.

- .....................................................................
- .....................................................................
- .....................................................................
- .....................................................................
- .....................................................................

## ක්‍රියාකාරකම 2.7

01. පරිගණකය මුරපදයක් ලබා දී ආරක්ෂා කර ගත යුත්තේ ඇයි දැයි කෙටියෙන් පැහැදිලි කරන්න.

.................................................................................................................

.................................................................................................................

.................................................................................................................

.................................................................................................................

.................................................................................................................

.........................................................................................................

02. පරිගණකයට මුරපදයක් ලබාදීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු තුනක් ලියන්න.

- .........................................................................................................
- .........................................................................................................
- .........................................................................................................

03. ශක්තිමත් මුරපදයක ලක්ෂණ දෙකක් සඳහන් කරන්න.

- .........................................................................................................
- .........................................................................................................

04. ශක්තිමත් මුරපද සඳහා උදාහරණ පහක් ලියන්න.

- .........................................................................................................
- .........................................................................................................
- .........................................................................................................
- .........................................................................................................
- .........................................................................................................

05. පහත දැක්වෙන එක් එක් මුරපදය ශක්තිමත් නම් ( ✔ ) ලකුණ ද ශක්තිමත් නොවේ නම් (✖) ලකුණ ද යොදන්න.

| | |
|---|---|
| school123 | |
| Nam2005ab# | |
| claSS@21 | |
| amara32 | |
| @m@r@32 | |

# 3 මෙහෙයුම් පද්ධතිය හා ගොනු හැසිරවීම

## ක්‍රියාකාරකම 3.1

01. රූපයේ දැක්වෙන්නේ පරිගණක තිරයක ආකෘතියකි.




A - icons
B - desktop
C - start menu
D - quick launch bar
E - task bar

Microsoft windows 10 මෙහෙයුම් පද්ධතිය සහිත පරිගණකයක තිරයක්




A - icons
B - desktop
C - start menu
D - quick launch bar
E - task bar

Ubuntu මෙහෙයුම් පද්ධතිය සහිත පරිගණකයක තිරයක්

(ගුරුවරයාගේ සහාය ඇතිව පරිගණකයක මෙහෙයුම් පද්ධතියක්/පද්ධති විවෘත කරගෙන පරිගණක තිරයේ කොටස් හඳුනා ගන්න.)

02. පහත A තීරුවේ දැක්වෙනුයේ මෙහෙයුම් පද්ධති වෙළෙඳ ලාංඡන (trademarks) කිහිපයකි. B තීරුවේ ඇති නිවැරදි නාමය සමඟින් ඒවා යා කරන්න.

| A | B |
|---|---|
| | Windows |
| Windows | Linux |
| ubuntu | Apple |
| | Android |
| | Ubuntu |

## ක්‍රියාකාරකම 3.2

1. ගොනුවක් යනු කුමක් ද?

.......................................................................................................

.......................................................................................................

.......................................................................................................

2. පාසලේ පරිගණක විද්‍යාගාරයේ ඇති පරිගණකයක් තෝරා ගන්න. එහි ගබඩා කර ඇති ගොනු දහයක් තෝරා ගෙන ඒවායේ නම් දිගුව ද සහිතව ලියන්න.

i. eg : Grade6A.docx ..............................................................................
ii. ..............................................................................
iii. ..............................................................................
iv. ..............................................................................
v. ..............................................................................
vi. ..............................................................................
vii. ..............................................................................
viii. ..............................................................................
ix. ..............................................................................
x. ..............................................................................

3. ඒ එක එකක් පිළිබඳ විස්තර පහත වගුවට ඇතුළත් කරන්න.

| | ගොනුවේ නම | ගොනුවේ දිගුව | ගොනු වර්ගය | මෘදුකාංග වර්ගය | මෘදුකාංගයේ නම |
|---|---|---|---|---|---|
| eg : | Grade6A | docx | වදන් සහිත ගොනුවක් | වදන් සැකසුම් මෘදුකාංගයක් | Ms word |
| | | | | | |
| | | | | | |
| | | | | | |
| | | | | | |
| | | | | | |
| | | | | | |
| | | | | | |
| | | | | | |
| | | | | | |

## ක්‍රියාකාරකම 3.3

**පරිගණකය භාවිතයෙන් චිත්‍රයක් අඳිමු.**

(මෙහි දක්වා ඇත්තේ windows 10 මෙහෙයුම් පද්ධතිය සහිත පරිගණකයක MS Paint මෘදුකාංගය භාවිත කරන ආකාරයයි. භාවිත කරන මෙහෙයුම් පද්ධතිය අනුව මෙම පියවර තරමක් වෙනස් විය හැකි ය.)

චිත්‍රක මෘදුකාංගය අනුව චිත්‍ර ඇඳීමට යොදා ගන්නා මෙවලම් (tools)

- ආරම්භ කිරීමේ බොත්තම (start) ක්ලික් කරන්න.
- Windows Accessories මත ක්ලික් කරන්න.
- Paint තෝරා ගෙන ක්ලික් කරන්න. එවිට පහත දැක්වෙන ආකාරයේ වැඩ කවුළුවක් විවෘත වේ.




01. paint බොත්තම් (paint buttons)
02. ක්ෂණික පරිශීලක මෙවලම් තීරුව (quick access toolbar)
03. පීත්ත පටිය (ribbon)
04. ඇඳීම සිදුකරන ප්‍රදේශය (drawing area)

| අයිකනය **(icon)** | **විස්තරය** |
|---|---|
| Select | සටහනක් හෝ අඳිනු ලබන චිත්‍රයක් තේරීම කළ හැකි ය. |
| Crop | සටහනක හෝ අඳිනු ලබන චිත්‍රයක අවශ්‍ය ස්ථානය පමණක් තෝරා කපා ගත හැකි ය. |
| Resize | ලියන හෝ අඳිනු ලබන දෑ විශාල කරගැනීම හෝ කුඩා කර ගැනීම කළ හැකි ය. |
| Rotate | ලියන හෝ අඳිනු ලබන දෑ අවශ්‍ය දිශානතියකට කරකවා ගැනීම කළ හැකි ය. |
|  pencil | පැන්සල භාවිතයෙන් අඳින චිත්‍රයක් මෙන් චිත්‍ර ඇඳීම කළ හැකි ය. |
|  paint basket | අඳිනු ලබන සංවෘත රූප පහසුවෙන් වර්ණවත් කළ හැකි ය. |
| A<br>text tool | අවශ්‍ය අකුරු ඇතුළත් කර ගත හැකි ය. |
|  eraser tool | ලියනු ලබන හා අඳිනු ලබන දෑ මැකීම කළ හැකි ය. |
|  brush tool | වෙනස් ප්‍රමාණයේ බුරුසු මගින් ඇඳීම සිදු කර ගත හැකි ය. |

4. වෙනස් හැඩතල භාවිතය



| අයිකනය | විස්තරය |
|---|---|
|  line tool | කෙළින් ඉරි ඇඳ ගැනීමට යොදා ගනී. |
|  curve tool | සරල වක්‍ර ඇඳ ගත හැකි ය. |

ඉහත අයිකන දෙකට අමතර ව පවතින සංවෘත රූප නිමි හැඩතල (ready-made shapes) ලෙස හඳුන්වයි.

oval
rectangle
rounded rectangle
triangle
right triangle
diamond
pentagon
hexagon
arrows
star
callouts
heart
lightning bolt

## ක්‍රියාකාරකම 3.4

1. ඔබගේ ගුරුතුමාගේ හෝ ගුරුතුමියගේ උපකාරය ඇතිව චිත්‍රක මෘදුකාංගයක් විවෘත කර එහි චිත්‍රයක් අඳින්න. එහි ඔබගේ නම හා පාසල ද යතුරුලියනය කරන්න.



MS Paint




Tux Paint

2. ඔබ සකස් කළ ගොනුව සඳහා සුදුසු නම් තුනක් යෝජනා කරන්න.
   - ..........................................................................................
   - ..........................................................................................
   - ..........................................................................................

## ක්‍රියාකාරකම 3.5

**ගොනුවක් විවෘත කිරීම**

ගොනුවක් සුරැකී ඇති ස්ථානය තෝරා ඔබට අවශ්‍ය ගොනුව මත මූසිකයේ වම් බොත්තම දෙවරක් ක්ලික් කරන්න.



## ගොනුවක් සංස්කරණය කිරීම

ගොනු හෝ ගොනු බහලුම් සංස්කරණය කිරීම සඳහා මුලින් ම අදාළ ගොනුව තෝරා ගත යුතුය.

- ගොනු හා ගොනු බහලුම් පිටපත් කිරීම හා ඇලවීම.

1. පිටපත් කළ යුතු ගොනුව තෝරන්න.




2. පිටපත් කිරීමට copy විධානය ලබා දෙන්න. මේ සඳහා මූසිකයේ දකුණු බොත්තම click කරන්න. (ඒ සඳහා යතුරු පුවරුවේ Ctrl + C ද යොදා ගත හැකි ය.)



